2361



| ප්‍රශ්න අංකය | ලැබූ ලකුණු |
|---|---|
| 1 | |
| 2 | |
| එකතුව | |

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் /
Department of Examinati4ons, Sri Lanka

| අවසාන ලකුණු | |
|---|---|
| ඉලක්කමෙන් | |
| අකුරින් | |

# කතෝලික දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2017 (2018)

## (01) කතෝලික විශ්වාසය

පැ තුනයි

| | |
|---|---|
| උත්තර පත්‍ර පරීක්ෂක 1 | |
| උත්තර පත්‍ර පරීක්ෂක 2 | |
| ප්‍රධාන පරීක්ෂක | |

I කොටසේ පළමුවන හා දෙවන ප්‍රශ්න ද II කොටසින් තෝරාගත් ප්‍රශ්න හතරක් ද ඇතුළුව ප්‍රශ්න හයකට පමණක් පිළිතුරු සපයන්න.

I කොටස සඳහා පිළිතුරු මෙම පත්‍රයේම සපයා II කොටසේ පිළිතුරු පොත සමග එකට අමුණා ශාලාධිපතිට භාර දෙන්න.

විභාග අංකය :.......................

## I කොටස

1. ප්‍රශ්න අංක (i) සිට (x) තෙක් එක් එක් ප්‍රශ්නයට දී ඇති වරණ හතර අතුරින් නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ පිළිතුර තෝරා ඊට අදාළ අංකය, ප්‍රශ්නය ඉදිරියේ දී ඇති තිත් ඉර මත ලියන්න.

(i) දෙවියන් වහන්සේ ලෝකය මවා ඇත්තේ ඇයි?
   (1) උන්වහන්සේගේ බලය පෙන්වීමට අවශ්‍ය නිසා ය.
   (2) මැවීම උන්වහන්සේගේ කාර්යය වන නිසා ය.
   (3) උන්වහන්සේගේ අසීමිත ගුණ සමුදාය එළිදරව් කිරීමට ය.
   (4) උන්වහන්සේගේ පුත්‍රයානන්ට ජීවත්ව වැඩ සිටීමට ය. (.........)

(ii) අන් සියලු මැවීම්වලට වඩා මිනිසා උතුම්වන්නේ,
   (1) දේව සමානකම දරන නිසා ය. (2) ලෝකය ආරක්ෂා කරන නිසා ය.
   (3) මැවිල්ල යටපත් කරගන්නා නිසා ය. (4) පොළවේ දූවිල්ලෙන් මවා ඇති නිසා ය. (.........)

(iii) නව ගිවිසුමේ සංකල්පය අනුව 'දේව රාජ්‍යය' කුමක් වැනි ද?
   (1) බලකොටුවක් වැනි ය. (2) රාජධානියක් වැනි ය.
   (3) ආයතනයක් වැනි ය. (4) සංවිධානයක් වැනි ය. (.........)

(iv) වපුරන්නා පිළිබඳ උපමාවේ වපුරන්නා තුළ දැකිය හැකි ගුණාංගයක් වනුයේ,
   (1) මිත්‍ර ශීලීත්වයයි. (2) බෙදාගැනීමයි. (3) ඉවසීමයි. (4) කඩිසරකමයි. (.........)

(v) ශුද්ධාත්මයාණන් වහන්සේ අපෝස්තුළුවරුන් වෙත වැඩම කළේ,
   (1) ස්වර්ගාරෝහණ දිනයේ ය. (2) පෙන්තකොස්ත දිනයේ ය.
   (3) මහා බ්‍රහස්පතින්දා දිනයේ ය. (4) දේවස්ථාන මංගල්‍යය දිනයේ ය. (.........)

(vi) ශුද්ධාත්මයාණන් වහන්සේගෙන් පෝෂණය වූ කිතුනු අපට ලැබෙන අධ්‍යාත්මික දීමනාවක් වන්නේ,
   (1) අනුකරණ හැකියාව ය. (2) පක්ෂව සේවය කිරීමේ හැකියාව ය.
   (3) දිවැස් වැකි කීමේ හැකියාව ය. (4) විවේචනය කිරීමේ හැකියාව ය. (.........)

[ 2 වැනි පිටුව බලන්න.

(vii) ජේසු, සමිඳුන්ගේ මෙලොව සේවා කාලය අවසන්වන්නට ලංව තිබිය දී කළ ප්‍රතිහාර්යක් වන්නේ,

(1) මාරුත දමනයයි. (2) යක්ෂාවේශ වූවකු සුවකිරීමයි.

(3) පූප වැඩි කිරීමයි. (4) ලාසරස් මරණයෙන් උත්ථාන කිරීමයි. (.........)

(viii) "දයාවන්තයෝ භාග්‍යවන්තයෝය." ඔවුහු ලබන්නේ,

(1) තෘප්තිය ය. (2) සැනසීම ය.

(3) ස්වර්ග රාජ්‍යය ය. (4) දයාව ය. (.........)

(ix) කෛරාටිකයන් මෙන් මිනිසුන්ට පෙනෙන පිණිස නොව දෙවි සමිඳුන්ට දකින්නට අප යාච්ඤා කළ යුත්තේ,

(1) ප්‍රසිද්ධියේ ය. (2) රහසිගතව ය.

(3) භාවනායෝගීව ය. (4) සාමූහිකව ය. (.........)

(x) නිර්මල සිත යනුවෙන් අදහස් කරනුයේ,

(1) පිවිතුරු හදවත ය. (2) සංවේදී ස්වභාවය ය.

(3) පරිත්‍යාගශීලී භාවය ය. (4) අමරණීය හදවත ය. (.........)

*(ලකුණු 02 × 10 = 20 යි)*

**2.** ප්‍රශ්න සියල්ලට ම කෙටි පිළිතුරු දී ඇති තිත් ඉරි මත ලියන්න.

(i) මිහිපිට ජීවත්වන මනුෂ්‍යයාට පරිසරය පිළිබඳ ව පැවරෙන වගකීම් දෙකක් ලියන්න.

(අ) ........................................................................................................

(ආ) ........................................................................................................

(ii) දෙවියන් වහන්සේ මැවූ මහපොළොවෙන් අපට ලැබෙන සම්පත් දෙකක් ලියන්න.

(අ) ........................................................................................................

(ආ) ........................................................................................................

(iii) දේව රාජ්‍යයේ පණිවුඩය ප්‍රතික්ෂේප කළ ජන කොටස් දෙකක් නම් කරන්න.

(අ) ........................................................................................................

(ආ) ........................................................................................................

(iv) ශු. මතෙව් සුවිශේෂයේ 5:21–27 ට, අනුව අප රහසිගතව කළ යුතු ක්‍රියා දෙකක් ලියන්න.

(අ) ........................................................................................................

(ආ) ........................................................................................................

(v) සභාවේ පාලක සැලැස්ම තුළ ක්‍රිස්තුන් වහන්සේට කළ හැකි ක්‍රියා දෙකක් නම් කරන්න.

(අ) ........................................................................................................

(ආ) ........................................................................................................

(vi) සභාව තුළ සිටිනා සේවකයන් කොටස් දෙක නම් කරන්න.

(අ) ........................................................................................................

(ආ) ........................................................................................................

(vii) තේවාචාර්යවරයකුගේ සේවාවන් දෙකක් සඳහන් කරන්න.

(අ) ..........................................................................................................

(ආ) ..........................................................................................................

(viii) පූජකවරයකුගේ සේවාවන් දෙකක් ලියන්න.

(අ) ..........................................................................................................

(ආ) ..........................................................................................................

(ix) ස්වභාවධර්මයට සම්බන්ධව ක්‍රිස්තුන් වහන්සේ සිදු කළ ප්‍රතිහාර්ය දෙකක් නම් කරන්න.

(අ) ..........................................................................................................

(ආ) ..........................................................................................................

(x) මනුෂ්‍යයාගේ අවසාන සිද්ධීන් දෙකක් නම් කරන්න.

(අ) ..........................................................................................................

(ආ) ..........................................................................................................

*(ලකුණු 02 × 10 = 20 යි)*

* *

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

## කතෝලික දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2017 (2018)

## (01) කතෝලික විශ්වාසය

ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.

### II කොටස

3. (i) මැවිල්ල තුළින් අපට ලැබෙන දෑ **පහක්** සඳහන් කරන්න. *(ලකුණු 05 යි)*
   (ii) අද මැවිල්ල විනාශ වී යන අවස්ථා **පහක්** කෙටියෙන් විස්තර කරන්න. *(ලකුණු 10 යි)*

4. (i) උත්පත්ති පොතේ පළමු පරිච්ඡේදයේ සඳහන් මිනිසා මැවීම හා වගකීම පිළිබඳ කරුණු **පහක්** සඳහන් කරන්න. *(ලකුණු 05 යි)*
   (ii) "ආලෝකය නම් මිනිස් වර්ගයාගේ ආරම්භයේ සිට ඔවුන් හසුරුවනු ලැබූ හෘදය සාක්ෂියයි." යන වදන්වලට ඔබේ වචනයෙන් සාක්ෂි දරන ආකාරය කරුණු **පහකින්** යුක්තව කෙටියෙන් විස්තර කරන්න. *(ලකුණු 10 යි)*

5. (i) කිතුනුවන්ගේ නපුරේ බලවේග **පහක්** සඳහන් කරන්න. *(ලකුණු 05 යි)*
   (ii) ඔබ සඳහන් කළ නපුරු බලවේග ජයගැනීමට ඔබ දරන උත්සාහයන් කරුණු **පහක්** සහිතව කෙටියෙන් විස්තර කරන්න. *(ලකුණු 10 යි)*

6. (i) භාග්‍ය අටෙන් ඉගැන්වෙන තේමා **පහක්** සඳහන් කරන්න. *(ලකුණු 05 යි)*
   (ii) සමස්ත භාග්‍ය අටෙන් ඔබේ ජීවිතයට ගත හැකි පාඩම් **පහක්** කෙටියෙන් විස්තර කරන්න. *(ලකුණු 10 යි)*

7. (i) ක්‍රිස්තුන් වහන්සේ සිදු කළ ප්‍රාතිහාර්ය **පහක්** නම් කරන්න. *(ලකුණු 05 යි)*
   (ii) වපුරන්නා පිළිබඳ උපමාවෙන් ඔබේ ජීවිතයට ගත හැකි පාඩම් **පහක්** කෙටියෙන් විස්තර කරන්න. *(ලකුණු 10 යි)*

8. (i) 'ප්‍රාතිහාර්යයක්' යනු කවරේ ද යන්න කරුණු **තුනකින්** විස්තර කර, ඉන් දෙකකට උදාහරණ **දෙක** බැගින් සඳහන් කරන්න. *(ලකුණු 05 යි)*
   (ii) මිනිසුනට දෙවියන් වහන්සේගේ ප්‍රබල ක්‍රියා අත්දැකිය හැකි අවස්ථා **පහක්** කෙටියෙන් විස්තර කරන්න. *(ලකුණු 10 යි)*

9. (i) ශුද්ධාත්ම ඵල **පහක්** සඳහන් කරන්න. *(ලකුණු 05 යි)*
   (ii) ශුද්ධාත්ම දීමනාවලින් ඔබ ඔබේ ජීවිතය බලවත්ත කරගන්නා ආකාරය කරුණු **පහකින්** දක්වන්න. *(ලකුණු 10 යි)*

* * *

| ප්‍රශ්න අංකය | ලැබූ ලකුණු |
|---|---|
| 1 | |
| 2 | |
| එකතුව | |

| | |
|---|---|
| උත්තර පත්‍ර පරීක්ෂක 1 | |
| උත්තර පත්‍ර පරීක්ෂක 2 | |
| ප්‍රධාන පරීක්ෂක | |

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் /
Department of Examinati4ons, Sri Lanka

# කතෝලික දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2017 (2018)

## (02) කතෝලික ජීවිත පැවැත්ම

පැ තුනයි

I කොටසේ පළමුවන හා දෙවන ප්‍රශ්න ද II කොටසින් තෝරාගත් ප්‍රශ්න හතරක් ද ඇතුළුව ප්‍රශ්න හයකට පමණක් පිළිතුරු සපයන්න.
I කොටස සඳහා පිළිතුරු මෙම පත්‍රයේම සපයා II කොටසේ පිළිතුරු පොත සමග එකට අමුණා ශාලාධිපතිට භාර දෙන්න.

විභාග අංකය : ........................

### I කොටස

1. ප්‍රශ්න අංක (i) සිට (x) තෙක් එක් එක් ප්‍රශ්නයට දී ඇති වරණ හතර අතුරින් නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ පිළිතුර තෝරා ඊට අදාළ අංකය, ප්‍රශ්නය ඉදිරියේ දී ඇති තිත් ඉර මත ලියන්න.

(i) අප පාපයේ මරණයෙන් නැගිටුවා ස්වකීය දේව ජීවිතයේ පංගුකාරයන් බවට පත් කරන්නේ,
(1) ප්‍රසාද ස්නාපනයෙනි. (2) සමගි සන්ධානයෙනි.
(3) අභිවෘද්ධි ආලේපයෙනි. (4) රෝගීන්ගේ ආලේපයෙනි. (.........)

(ii) දිව්‍ය පූජා පිළිවෙතේ ඉතා වැදගත් හා උතුම් යාච්ඤාව වන්නේ,
(1) පරමණ්ඩල යාච්ඤාවයි. (2) පඬුරු මත යැදුමයි.
(3) ස්තෝත්‍ර ගීයයි. (4) විශ්වාස ලක්ෂණයයි. (.........)

(iii) "...... යමෙකු වතුරෙන් ද ආත්මයාණන්ගෙන් ද නූපන්නොත්, ඔහුට ස්වර්ග රාජ්‍යයට පිවිසිය නොහැක." යනුවෙන් ජේසුස් වහන්සේ වදාළේ,
(1) අරිමාතියේ ජෝශප්ට ය. (2) ස්නාවක ජොහාන් තුමාට ය.
(3) පේදුරු තුමාට ය. (4) නිකදේමුස්ට ය. (.........)

(iv) පෙරදිග කිතුනු සභාව විසින් එකවර දානය කරන දේව ප්‍රසාද නිධාන වන්නේ,
(1) ප්‍රසාද ස්නාපනය හා අභිවෘද්ධි ආලේපය.
(2) ප්‍රසාද ස්නාපනය හා දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ.
(3) ප්‍රසාද ස්නාපනය, පූජාත්වරය හා දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ.
(4) ප්‍රසාද ස්නාපනය, අභිවෘද්ධි ආලේපය හා දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ (.........)

(v) මුල් ක්‍රිස්තියානීන් දිව්‍ය සත්ප්‍රසාදය හඳුන්වන ලද්දේ,
(1) තුති පිදීමේ පිළිවෙතක් ලෙසට ය. (2) සත්ප්‍රසාදික රැස්වීමක් ලෙසට ය.
(3) පූප කැඩීමේ පිළිවෙත ලෙසට ය. (4) ස්වාමින් වහන්සේගේ භෝජනය ලෙසට ය. (.........)

(vi) ලූක් 15 : 7 ට අනුව ස්වර්ගයෙහි ප්‍රීතිය ඇති වන්නේ,
(1) මනස්ථාපනය වන එක පව්කාරයකු කෙරෙහි ය.
(2) ධර්මිෂ්ඨ වන එක මනුෂ්‍යයකු කෙරෙහි ය.
(3) ශාරීරික පුණ්‍ය ක්‍රියාවල නිරතවන එක පුද්ගලයකු කෙරෙහි ය.
(4) ආත්මික පුණ්‍ය ක්‍රියාවල නිරතවන එක තැනැත්තකු කෙරෙහි ය. (.........)

[ 2 වැනි පිටුව බලන්න.

(vii) "මම යාග පූජාවට නොව ............ කැමැත්තෙමි. මා ආවේ .......... නොව පව්වුවන් කැඳවීමට ය."

(මතෙව් 9:13)

මෙහි හිස්තැන්වලට අදාළ නිවැරදි පිළිතුරු පිළිවෙළින් මොනවා ද?

(1) ප්‍රේමයට හා ධර්මිෂ්ඨයන් (2) මනස්ථාපනයට හා සත්පුරුෂයන්
(3) දයාවට හා දමිටුවන් (4) ශුද්ධත්වයට හා නිරෝගීන් (.........)

(viii) "ඔබ අතුරින් යමෙක් රෝගීව සිටින්නේ නම් ඔහු සභා මූලිකයන් කැඳවා ගනීවා" යනුවෙන් ප්‍රකාශ කළේ,

(1) ජේසුස් වහන්සේ ය. (2) ජේදුරු තුමා ය.
(3) පාවුලු තුමා ය. (4) ජාකොබ් තුමා ය. (.........)

(ix) "අන්‍යයන් ශුද්ධවන්ත කිරීමට පෙර අප ශුද්ධවන්ත විය යුතු ය......" යනුවෙන් ප්‍රකාශ කළේ,

(1) ශු. දෙවන ජුවාම් පාවුලු මුනිතුමා ය.
(2) ශු. මැක්සිමිලියම් කෝල්බේ මුනිතුමා ය.
(3) ශු. ග්‍රෙගරි නසියන්සස් මුනිතුමා ය.
(4) ශු. අගෝස්තීනු මුනිතුමා ය. (.........)

(x) ආශිර්වාදකාර බන්ධනය නමැති සක්‍රමේන්තුව දානය කරනු ලබන්නේ,

(1) විවාහ වන දෙදෙනා විසින් එකිනෙකාට ය.
(2) පූජා ප්‍රසාදිතුමා විසින් විවාහ වන දෙදෙනාට ය.
(3) තේවාචාර්ය තුමා විසින් විවාහ වන දෙදෙනාට ය.
(4) දෙවියන් වහන්සේ විසින් විවාහ වන දෙදෙනාට ය. (.........)

*(ලකුණු 02 × 10 = 20 යි)*

**2.** ප්‍රශ්න සියල්ලට ම කෙටි පිළිතුරු දී ඇති තිත් ඉරි මත ලියන්න.

(i) දිව්‍ය පූජාවේ දේවවාක්‍ය පිළිවෙතෙහි උච්චතම අවස්ථාව නම් කරන්න.

..............................................................................................................

..............................................................................................................

(ii) දිව්‍ය පූජාවේ දේශනය නැතහොත් ධර්මානුශාසනාවේ පරමාර්ථය ලියන්න.

..............................................................................................................

..............................................................................................................

(iii) ක්‍රිස්තුන් වහන්සේගේ පාස්කු අභිරහස යනුවෙන් කුමක් අදහස් වේ දැයි කෙටියෙන් ලියන්න.

..............................................................................................................

..............................................................................................................

(iv) දිව්‍ය පූජාවේ දී දක්නට ලැබෙන සාධුකාරයන් දෙකක් නම් කරන්න.

(අ) ..............................................................................................

(ආ) ..............................................................................................

(v) සේවය සඳහා ස්ථාපිත දේව ප්‍රසාද නිධාන දෙක නම් කරන්න.

(අ) ..............................................................................................

(ආ) ..............................................................................................

(vi) ක්‍රිස්තුන් වහන්සේ බෞතීස්ම ස්නාපනය ලබන අවස්ථාවේ දී දෙවියන් වහන්සේ ප්‍රකාශ කළේ කුමක් ද?

..........

..........

(vii) ස්වාමීන් වහන්සේගේ භෝජනය යනු කුමක් ද? කෙටියෙන් පැහැදිලි කරන්න.

..........

..........

(viii) සුවය ලබා ගැනීමේ දේව ප්‍රසාද නිධාන අප තේරුම් ගත යුත්තේ කෙසේදැයි කරුණු දෙකකින් ඉදිරිපත් කරන්න.

(අ) ..........

(ආ) ..........

(ix) ක්‍රිස්තියානි සභාවේ මුල් අවධියේ දී ප්‍රසිද්ධ බරපතල පව් ලෙස සලකන ලද ක්‍රියාවන් දෙකක් නම් කරන්න.

(අ) ..........

(ආ) ..........

(x) රෝගීන්ගේ ආලේපය ලබාදීමට සුදුසු කණ්ඩායම් දෙකක් නම් කරන්න.

(අ) ..........

(ආ) ..........

*(ලකුණු 02 × 10 = 20 යි)*

* *

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

## කතෝලික දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2017 (2018)

## (02) කතෝලික ජීවිත පැවැත්ම

ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.

### II කොටස

3. (i) උත්ථානයෙන් පසු ජේසුස් ස්වාමින්වහන්සේ ප්‍රකාශ වූ අවස්ථා පහක් සඳහන් කරන්න. *(ලකුණු 05 යි)*
   (ii) ජේසුස් වහන්සේ මෙලොවට පැමිණ සිදු කළ දූත කාර්යයන් පහක් කෙටියෙන් විස්තර කරන්න. *(ලකුණු 10 යි)*

4. (i) දිව්‍ය පූජාවේ ආරම්භක පිළිවෙත පැහැදිලි කරන්න. *(ලකුණු 05 යි)*
   (ii) දිව්‍ය පූජා මෙහෙය අර්ථවත් කර ගැනීමට ඔබට ගත හැකි ක්‍රියාමාර්ග පහක් විස්තර කරන්න. *(ලකුණු 10 යි)*

5. (i) දේව ප්‍රසාද නිධානවල පොදු ලක්ෂණ පහක් සඳහන් කරන්න. *(ලකුණු 05 යි)*
   (ii) ආරම්භක දේව ප්‍රසාද නිධානයක් ලෙස ප්‍රසාද ස්නාපනයෙන් ලැබෙන දේව වරප්‍රසාද පහක් කෙටියෙන් විස්තර කරන්න. *(ලකුණු 10 යි)*

6. (i) "දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ඉතා උතුම් වූ සහ විශිෂ්ට වූ දේව ප්‍රසාද නිධානයකි."
   මෙම අදහස කෙටියෙන් පැහැදිලි කරන්න. *(ලකුණු 05 යි)*
   (ii) ශුද්ධ වූ ජස්ටින් තුමා ඉදිරිපත් කළ දිව්‍ය පූජාවේ දළ සැලැස්ම කෙටියෙන් පැහැදිලි කරන්න. *(ලකුණු 10 යි)*

7. (i) පව්කාරයාට සමාව ලබාගැනීමේ වරප්‍රසාදය දීමට බලා සිටින දෙවියන් වහන්සේ ගැන ජේසුස් ස්වාමින් වහන්සේ වදාළ උපමා තුන නම් කර, එම උපමාවලින් පෙන් වූ පොදු පණිවුඩය සඳහන් කරන්න. *(ලකුණු 05 යි)*
   (ii) ශු. ලූක් සුවිශේෂයේ 24 : 13 - 32 හි සඳහන් 'එම්මාවුස් ගමන' තුළින් ඔබේ ජීවිතයට ගත හැකි මගපෙන්වීම් පහක් ලියා ඒවා කෙටියෙන් විස්තර කරන්න. *(ලකුණු 10 යි)*

8. (i) තේවාචාර්ය ධූරයට ඔසවනු ලැබුවන්ගේ වගකීම් පහක් ලියන්න. *(ලකුණු 05 යි)*
   (ii) පූජා ප්‍රසාදිතුමෙකුගේ වගකීම් පහක් කෙටියෙන් විස්තර කරන්න. *(ලකුණු 10 යි)*

9. පහත සඳහන් මාතෘකාවලින් තුනක් තෝරාගෙන එකකට පේළි පහක් පමණ වන සේ කෙටි සටහන් ලියන්න.
   (i) දිව්‍ය සත්ප්‍රසාදය ස්ථාපනය කිරීම පිළිවෙතේ කතාව
   (ii) අභිවෘද්ධි ආලේපනයේ දේව ප්‍රසාද නිධානය
   (iii) විවාහ ජීවිතයේ පරමාර්ථ
   (iv) කිතුනු සභාව පූජක ජනතාවකි
   (v) දිව්‍ය පූජාව

*(ලකුණු 05 × 3 = 15 යි)*

* * *

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

| ප්‍රශ්න අංකය | ලැබූ ලකුණු |
|---|---|
| 1 | |
| 2 | |
| එකතුව | |

| | |
|---|---|
| උත්තර පත්‍ර පරීක්ෂක 1 | |
| උත්තර පත්‍ර පරීක්ෂක 2 | |
| ප්‍රධාන පරීක්ෂක | |

# කතෝලික දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2017 (2018)

## (03) කතෝලික සදාචාරාත්මක ජීවිතය

පැ තුනයි

I කොටසේ පළමුවන හා දෙවන ප්‍රශ්න ද II කොටසින් තෝරාගත් ප්‍රශ්න හතරක් ද ඇතුළුව ප්‍රශ්න හයකට පමණක් පිළිතුරු සපයන්න.

I කොටස සඳහා පිළිතුරු මෙම පත්‍රයේම සපයා II කොටසේ පිළිතුරු පොත සමග එකට අමුණා ශාලාධිපතිට භාර දෙන්න.

විභාග අංකය :........................

### I කොටස

1. ප්‍රශ්න අංක (i) සිට (x) තෙක් එක් එක් ප්‍රශ්නයට දී ඇති වරණ හතර අතුරින් නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ පිළිතුර තෝරා ඊට අදාළ අංකය, ප්‍රශ්නය ඉදිරියේ දී ඇති තිත් ඉර මත ලියන්න.

(i) පෞද්ගලික දේපල පරිහරණය කළ යුතු ආකාරය පිළිබඳ ව සමිඳාණන් අපහට නියෝග කරන දේව පණත් දෙක නම්,
(1) අට සහ දසවන දේව පණත් (2) හත සහ අටවන දේව පණත්
(3) පළමු සහ දෙවන දේව පණත් (4) හත සහ දසවන දේව පණත් (.........)

(ii) ස්වභාවික නීතියට විරුද්ධව කටයුතු කරන තැනැත්තා,
(1) සුළු පාපයක් කරයි (2) සභාවෙන් ඈත්වෙයි
(3) බරපතල වරදක් කරයි (4) ස්වභාවධර්මයට පිටුපායි (.........)

(iii) “ගුරුදේවයිනි ව්‍යවස්ථාවලියේ ශ්‍රේෂ්ඨතම ආඥාව කුමක් දැයි” කියා ප්‍රශ්න කළේ කවරෙක් ද?
(1) අයකැමියෙක් (2) විනයධරයෙක්
(3) ජුදා ජාතිකයෙක් (4) රාජ්‍ය නිලධාරියෙක් (.........)

(iv) ප්‍රේමයේ පණත පිළිබඳව ශු.පාවුළුතුමා ප්‍රකාශ කර ඇත්තේ කුමන හසුන්පතේ ද?
(1) රෝම ලිපිය (2) 1 කොරින්ති ලිපිය
(3) 2 කොරින්ති ලිපිය (4) ගලාති ලිපිය (.........)

(v) “බැගෑ සිතින් දෙවි සරණ පතන්නෝ භාග්‍යවන්තයෝ”ය මෙම ඉගැන්වීම අනුසාර කරන්නන් ලෙස හඳුන්වන්නේ,
(1) සෑම කාරණයකදී ම දේව සංරක්ෂණය තුළ යැපෙන්නන් ය
(2) බැහැපත් ලෙස ජීවිතය ගෙනයන්නන් ය
(3) නිහතමානීව ජීවිතය ගෙනයන්නන් ය
(4) කරදර අවස්ථාවලදී දෙවියන් සරණයන්නන් ය (.........)

(vi) සැපතට හා විපතට හේතු වන කරුණු ඉදිරිපත් කරන සුවිශේෂකවරයා වන්නේ,
(1) ශු. මාර්ක්තුමා ය. (2) ශු. ලූක්තුමා ය.
(3) ශු. ජොහාන්තුමා ය. (4) ශු. මතෙව්තුමා ය. (.........)

(vii) දෙවියන් වහන්සේ මවා ඇති මැවිලිවල පිළිවෙල දැනගත හැක්කේ,

(1) දැනුම මගිනි. (2) අවබෝධය මගිනි.
(3) බුද්ධිය මගිනි. (4) අධ්‍යයනය කිරීම මගිනි. (.........)

(viii) ශාරීරික පුණ්‍යක්‍රියාවක් වනුයේ,

(1) මර්දන ක්‍රියා කිරීම ය. (2) එක්වරුගීලය රැකීම ය.
(3) උපවාස ක්‍රියා කිරීම ය. (4) වහලුන් නිදහස් කිරීම ය. (.........)

(ix) "ඔබගේ ශරීරය ඔබට දෙවියන් වහන්සේ වදාළ ඔබ තුළ වැඩ වසන ශුද්ධාත්මයාණන්ගේ මන්දිරයය."
එය කෙලෙසීම කුමන පණත් කඩකිරීමක් ද?

(1) හය හා නවවන පණත්
(2) හය හා අටවන පණත්
(3) නවය හා දහවන පණත්
(4) හය හා හත්වන පණත් (.........)

(x) කතෝලික සභාවේ පළමු විශ්ව ලේඛනය වන්නේ කුමක් ද?

(1) ලෝක සාමය ලේඛනය
(2) වෙහෙසෙන මිනිස්සු ලේඛනය
(3) ජනතා ප්‍රගතිය ලේඛනය
(4) අයුක්තියට පිළිතුර ලේඛනය (.........)

*(ලකුණු 02 × 10 = 20 යි)*

**2.** ප්‍රශ්න සියල්ලට ම කෙටි පිළිතුරු දී ඇති තිත් ඉරි මත ලියන්න.

(i) රූප වන්දනාව යනු කුමක් ද?

.......................................................................................................

.......................................................................................................

(ii) දේව අණපණත් පිළිපැදීම අපගේ යුතුකමක් වන්නේ කුමක් නිසා ද?

.......................................................................................................

.......................................................................................................

(iii) ඉරුදින දිව්‍ය පූජාවට සහභාගිවීමේ ණය යුක්තිය බලනොපාන අවස්ථා දෙකක් ලියන්න.

(අ) .......................................................................................................

(ආ) .......................................................................................................

(iv) සමාජයේ කුඩාම ඒකකය වන පවුල තුළින් ගොඩනැගෙන සාරධර්ම දෙකක් ලියන්න.

(අ) .......................................................................................................

(ආ) .......................................................................................................

(v) ස්වභාවධර්මයේ ක්‍රියාපටිපාටිය පිවිතුරු සහ යහපත් වන්නේ කුමන හේතුවක් නිසා ද?

.......................................................................................................

.......................................................................................................

[ 3 වැනි පිටුව බලන්න.

(vi) දේව රාජ්‍යයේ පදනම කුමක් ද?

..................................................................................................................................

..................................................................................................................................

(vii) භාග්‍ය අට අනුව ස්වර්ග රාජ්‍යය හිමිකර ගැනීමට හැකිවන්නේ කවුරුන් හට ද?

..................................................................................................................................

(viii) දස පණත සර්වකාලීන නීති පද්ධතියක් යැයි කියන්නේ ඇයි?

..................................................................................................................................

..................................................................................................................................

(ix) නිදහස් කැමැත්ත යනු කුමක් ද?

..................................................................................................................................

..................................................................................................................................

(x) සැම දෙනම ක්‍රිස්තුන් වහන්සේ තුළ සහෝදරයන් මෙන් සැලකීම කිනම් දේව පණතට අයත් ද?

..................................................................................................................................

*(ලකුණු 02 × 10 = 20 යි)*

* *

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

## කතෝලික දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2017 (2018)

## (03) කතෝලික සදාචාරාත්මක ජීවිතය

ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.

### II කොටස

**3.** (i) සාරධර්ම පිරි සමාජයක් ගොඩනැංවීම සඳහා යොදා ගත හැකි ආදර්ශ පාඨ පහක් කන්ද උඩ දේශනය ඇසුරෙන් ලියන්න. *(ලකුණු 05 යි)*

(ii) "සාරධර්ම පිරිහීම නිසා මුළු මහත් සමාජයම දරුණු සෝදා පාලුවකට ලක්ව ඇත."
මේ මාතෘකාව පිළිබඳ ව වචන **100** ක පමණ ලිපියක් කිතුනු පුවත්පතකට ලියන්න. *(ලකුණු 10 යි)*

**4.** (i) "කිතුනුවා මානව සමාජය තුළ ලවණයක්, ආලෝකයක් විය යුතුය." ප්‍රධාන කරුණු පහක් දක්වමින් මෙම ප්‍රකාශය පැහැදිලි කරන්න. *(ලකුණු 05 යි)*

(ii) කිතුනු ජීවිතය දෙවිඳුන්ගෙන් ලත් උතුම් තිළිණයකි. පස්වන දේව පණත ඇසුරෙන් වචන **100** ක පමණ පැහැදිලි කිරීමක් කරන්න. *(ලකුණු 10 යි)*

**5.** (i) තුන්වන දේව පණතින් අවධාරණය කෙරෙන ප්‍රධාන ඉගැන්වීම් පහක් ලියන්න. *(ලකුණු 05 යි)*

(ii) ඉරුදින දිව්‍ය පූජාවේ උතුම්කම ගැන ප්‍රධාන කරුණු පහකින් සමන්විතව ඔබ මිතුරෙකුට කරන වචන **100** ක පමණ පැහැදිලි කිරීමක් ලියන්න. *(ලකුණු 10 යි)*

**6.** (i) ජේසුස් වහන්සේ උපවාසය පිළිබඳ ව කළ ඉගැන්වීම් පහක් ලියන්න. *(ලකුණු 05 යි)*

(ii) "උපවාසය තුළින් අධ්‍යාත්මික සුවයකට යොමු වෙමු."
මේ මාතෘකාව පිළිබඳව කිතුනු පුවත්පතකට වචන **100** ක පමණ ලිපියක් සකස් කරන්න. *(ලකුණු 10 යි)*

**7.** (i) කිතුනු ප්‍රේමය යනු කුමක් ද? ප්‍රධාන කරුණු පහක් පෙන්වා දෙන්න. *(ලකුණු 05 යි)*

(ii) කිතුනු ඔබගේ ජීවිතය තුළ දේව ප්‍රේමය අත්දුටු අවස්ථාවක් ලියන්න. *(ලකුණු 10 යි)*

**8.** (i) යහපත් කිතුනු පවුලක තිබිය යුතු ගුණාංග පහක් ලියන්න. *(ලකුණු 05 යි)*

(ii) කතෝලික සභාවේ ධර්මෝපදේශය පොතේ පවුල් ජීවිතය පිළිබඳ ව ඇති ඉගැන්වීම් පහක් ලියන්න. *(ලකුණු 10 යි)*

**9.** පහත සඳහන් මාතෘකාවලින් තුනක් තෝරාගෙන එක් එක් මාතෘකාව පිළිබඳ ව පේළි පහක් පමණ වන සේ කෙටි සටහන් ලියන්න.

(i) අටවන දේව පණත

(ii) මූලධර්මවාදී සංවිධාන

(iiii) ජේසුස් වහන්සේ දික්කසාදය පිළිබඳ ව කළ ඉගැන්වීම්

(iv) යුද්ධය පිටු දැකීම

(v) ණය මංගල්‍යයන්

*(ලකුණු 05 × 3 = 15 යි)*

* * *

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

| ප්‍රශ්න අංකය | ලැබූ ලකුණු |
|---|---|
| 1 | |
| 2 | |
| එකතුව | |

| | |
|---|---|
| උත්තර පත්‍ර පරීක්ෂක 1 | |
| උත්තර පත්‍ර පරීක්ෂක 2 | |
| ප්‍රධාන පරීක්ෂක | |

# කතෝලික දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2017 (2018)

## (04) යාච්ඤාවේ ජීවිතය

පැ තුනයි

I කොටසේ පළමුවන හා දෙවන ප්‍රශ්න ද II කොටසින් තෝරාගත් ප්‍රශ්න හතරක් ද ඇතුළුව ප්‍රශ්න හයකට පමණක් පිළිතුරු සපයන්න.

I කොටස සඳහා පිළිතුරු මෙම පත්‍රයේම සපයා II කොටසේ පිළිතුරු පොත සමග එකට අමුණා ශාලාධිපතිට භාර දෙන්න.

විභාග අංකය :......................

### I කොටස

**1.** ප්‍රශ්න අංක **(i)** සිට **(x)** තෙක් එක් එක් ප්‍රශ්නයට දී ඇති වරණ හතර අතුරින් නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ පිළිතුර තෝරා ඊට අදාළ අංකය, ප්‍රශ්නය ඉදිරියේ දී ඇති තිත් ඉර මත ලියන්න.

(i) නික්මයාම 33:11 ට අනුව පුරාණ ගිවිසුමේ දෙවියන් වහන්සේ සමග ඉතා කිට්ටු සම්බන්ධතාවයක් ඇතිකර ගත්තේ,

(1) ආබ්‍රාහම් ය. (2) ජාකොබ් ය.
(3) මොසෙස් ය. (4) ජොසප් ය. (.........)

(ii) ශ්‍රාවකයන්ගේ ඉල්ලීම පරිදි ජේසුස් වහන්සේ ඔවුන්ට යාච්ඤාව ගැන ඉගැන්වීමේ දී ඔවුන් වහන්සේ තදින් අවධාරණය කළේ,

(1) සිත්හැරීමේ අවශ්‍යතාවයි (2) විශ්වාසයේ අවශ්‍යතාවයි
(3) පරිත්‍යාගයේ අවශ්‍යතාවයි (4) සිත එක් තැන්කර ගැනීමේ අවශ්‍යතාවයි (.........)

(iii) ක්‍රිස්තුන් වහන්සේ යාච්ඤා කළ ආකාරය සිත් කාවදින ලෙස තම සුවිශේෂයේ II වන පරිච්ඡේදයෙන් ඉදිරිපත් කරන්නේ,

(1) ශු. මතෙව් තුමා ය. (2) ශු. මාක් තුමා ය.
(3) ශු. ලූක් තුමා ය. (4) ශු. ජොහන් තුමා ය. (.........)

(iv) යාච්ඤා කිරීමට අප කැඳවා ඇත්තේ කුමන සක්‍රමේන්තුව මගින් ද?

(1) ප්‍රසාද ස්නාපනය (2) අභිවෘද්ධි ආලේපනය
(3) දිව්‍ය සත්ප්‍රසාදය (4) සමගිවීමේ ප්‍රසාද නිධානය (.........)

(v) ක්‍රිස්තියානි සම්ප්‍රදායට අනුව සිදුකරන භාවනාත්මක යාච්ඤා යනු කුමක් ද?

(1) හදවතින් කරන යාච්ඤාව
(2) දෙවියන් වහන්සේගේ කැමැත්ත සොයා බැලීම
(3) ප්‍රේමය මගින් දෙවියන් වහන්සේ දැනගැනීම
(4) දෙවියන් වහන්සේ ඉදිරියේ නිශ්චලව හා නිශ්ශබ්දව සිටීම (.........)

[ 2 වැනි පිටුව බලන්න.

(vi) යාච්ඤා කිරීමේදී සිදුවන අපගේ දුර්වලකම්වල දී ශුද්ධාත්මයාණන් අපට ආධාර කරන බව ශු. පාවුළුතුමා පවසා ඇත්තේ,

(1) කොරින්ති ලිපියේ ය. (2) එපිස ලිපියේ ය.
(3) රෝම ලිපියේ ය. (4) ගලාති ලිපියේ ය. (.........)

(vii) ස්වාමිවාක් ආරාධනාව තුළින් කිතුනු අපට මතක්කර දෙන්නේ,

(1) එය සාංඝික යාච්ඤාවක් බව ය.
(2) එය අගනා දීමනාවක් බව ය.
(3) එය සාංඝයේ උතුම්ම යාච්ඤාව බව ය.
(4) දෙවියන් වහන්සේ අප සැමගේත් මුළු මැවිල්ලේත් පියාණන් බව ය. (.........)

(viii) කිතුනු අපගේ ලෞකික වර්ධනය දේව රාජ්‍යයේ වර්ධනයට වඩා වෙනස් විය යුතු බව පෙන්වා දී ඇත්තේ,

(1) කතෝලික සභා ධර්මෝපදේශයෙනි.
(2) ශාසන නීතියෙනි.
(3) දෙවන වතිකාන කතිකා සභාවෙනි.
(4) ඩිඩාකේ ග්‍රන්ථයෙනි. (.........)

(ix) "දේශය මුළුල්ලේ මහා සාගතයක් එවන කාලය ලංවන්නේ ය."
එය ස්වාමීන් වහන්සේගේ වචනය ඇසීමට ඇතිවන පිපාසය බව තම දිවැසි ග්‍රන්ථයේ සඳහන් කර ඇත්තේ,

(1) ආමොස් දිවැසිවරයා ය. (2) යෙසායා දිවැසිවරයා ය.
(3) මිකා දිවැසිවරයා ය. (4) එසකියෙල් දිවැසිවරයා ය. (.........)

(x) "මිනිසා ජීවත් වන්නේ කෑමෙන් පමණක් නොව දෙවියන් වහන්සේගේ මුවින් නික්මෙන සියලු වචනවලින්" බව පුරාණ ගිවිසුමේ සඳහන් වී ඇත්තේ,

(1) උත්පත්ති පොතේ ය. (2) ලෙවී ව්‍යවස්ථාවේ ය.
(3) ද්විතීය නීති සංග්‍රහයේ ය. (4) නික්මයාම පොතේ ය. (.........)

*(ලකුණු 02 × 10 = 20 යි)*

**2.** ප්‍රශ්න සියල්ලට ම කෙටි පිළිතුරු දී ඇති තිත් ඉරි මත ලියන්න.

(i) කිතුනු සභාවේ නිල යාච්ඤාව වන ගීතාවලියේ ගීත සාංඝිකව ගායනා කිරීම තුළින් ලබා ගත හැකි ප්‍රතිඵල දෙකක් ලියන්න.

(අ) ..............................................................................................

(ආ) ..............................................................................................

(ii) උත්පත්ති පොතේ 18 පරිච්ඡේදයේ සඳහන් පරිදි ආබ්‍රාහම් දෙවියන් වහන්සේ සමග ඉතා කුළුපගව කටයුතු කළ බව දැක්වීමට උදාහරණ දෙකක් ලියන්න.

(අ) ..............................................................................................

(ආ) ..............................................................................................

(iii) නික්මයාම 33:11 වගන්තියෙන් යාච්ඤාව පිළිබඳව අපට කුමක් පැහැදිලි කර දෙයි ද?

..............................................................................................

..............................................................................................

(iv) නව ධර්මෝපදේශයේ උගන්වන ආකාරයට අපගේ යාච්ඤා ඵල රහිත වන්නේ කුමන කරුණක් නිසා ද?

.....................................................................................................

.....................................................................................................

(v) නව ගිවිසුමේ සඳහන් කරන ආකාරයට මරියතුමියගේ යාච්ඤාවේ විශේෂ අංගය වූයේ කුමක් ද?

.....................................................................................................

.....................................................................................................

(vi) සුවිශේෂවල සඳහන් පරිදි ක්‍රිස්තුන් වහන්සේ ගෙත්සමනි උද්‍යානයේ කළ යාච්ඤාව සිත් බඳනා ආකාරයට ඉදිරිපත් කර ඇත්තේ කුමන කරුණු නිසා ද?

.....................................................................................................

.....................................................................................................

(vii) 'නුවාන' පිළිබඳව දෙවන ජුවාම් පාවුලු පාප්වහන්සේ කුමක් සඳහන් කර ඇද්ද?

.....................................................................................................

.....................................................................................................

(viii) ශු. පැය නමැති භක්ති අභ්‍යාසය සිදු කිරීමෙන් කිතුනු අපට ලැබෙන වාසි දෙකක් ලියන්න.

(අ) .....................................................................................................

(ආ) .....................................................................................................

(ix) කමා නොවූ දාසයා පිළිබඳ උපමාවෙන් කිතුනු අපට ලබාදෙන පණිවිඩ දෙකක් ලියන්න.

(අ) .....................................................................................................

(ආ) .....................................................................................................

(x) ශු. අගුස්තිනුතුමාගේ වචන අනුව ස්වර්ගයේ වැඩ සිටින අපගේ පියාණෙනි ......... යන ආමන්ත්‍රණයෙන් අදහස් වන්නේ කුමක් ද?

.....................................................................................................

.....................................................................................................

*(ලකුණු 02 × 10 = 20 යි)*

* *

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

# කතෝලික දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2017 (2018)

## (04) යාච්ඤාවේ ජීවිතය

ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.

### II කොටස

**3.** (i) දේව රාජ්‍ය සහ පාස්කු අභිරහස අතර ඇති සම්බන්ධතාවය කෙටියෙන් පැහැදිලි කරන්න. *(ලකුණු 05 යි)*

(ii) "දේව සැලැස්ම පරිපූර්ණත්වයට පත්වන්නේ දේව කැමැත්තට පූර්ණ ලෙස අවනත වීමෙනි." මෙය සනාථ කිරීමට හෙබ්‍රෙව් ලිපියේ (5 පරිච්ඡේද /3-8) තුළින් ඔබ දන්නා කරුණු වචන **100** කින් පමණ විස්තර කරන්න. *(ලකුණු 10 යි)*

**4.** (i) ඔබ ඉගෙනගත් විවිධ භක්ති අභ්‍යාසයන් පහක් නම් කරන්න. *(ලකුණු 05 යි)*

(ii) "අපගේ එදිනෙදා භෝජනය අද අපට දානය කළ මැනවයි."

පරමණ්ඩල යැදුම තුළින් ඔබ උච්චාරණය කරන විට ඔබේ සිත ගත යොමුවිය යුතු කරුණු පහක් නම් කර, ඒවා කෙටියෙන් විස්තර කරන්න. *(ලකුණු 10 යි)*

**5.** (i) 'දොම්නස්' අභිරහස තුළින් ඔබ සිහිකරන ස්වාමින් වහන්සේගේ විශේෂ සිදුවීම් පහ නම් කරන්න. *(ලකුණු 05 යි)*

(ii) 'නුවාන' පැවැත්ම පිළිබඳ සෘණාත්මක අදහස් ඉදිරිපත් කරන ඔබේ මිතුරෙකුට එහි ඇති අධ්‍යාත්මික ගුණාංග ඔබ පහදා දෙන ආකාරය වචන **100** කින් පමණ කෙටියෙන් ලියන්න. *(ලකුණු 10 යි)*

**6.** (i) ප්‍රධාන ජනවන්දනා මෙහෙයවන දිව්‍ය පූජාවේ 'දේවවාක්‍ය' පිළිවෙතට අයත් ප්‍රධාන කොටස් පහක් නම් කරන්න. *(ලකුණු 05 යි)*

(ii) "ඉල්ලන්න දෙනු ලැබේ." යන වදනට අනුව එදා ජේසුස් වහන්සේගෙන් ඉල්ලූවන් හට එය, ක්‍රියාවෙන් තහවුරු කළ බව ශු. ලූක් සුවිශේෂයේ සඳහන් වේ.

එවැනි අවස්ථා පහක් නම් කර කෙටියෙන් විස්තර කරන්න. *(ලකුණු 10 යි)*

**7.** (i) 'යාච්ඤාව' පිළිබඳ පරිසිවරයා හා අයකැමියා පිළිබඳ උපමාවෙන් ජේසුස් වහන්සේ අපට කියා දෙන මගපෙන්වීම් පහක් කෙටියෙන් ලියන්න. *(ලකුණු 05 යි)*

(ii) 'යාච්ඤා ජීවිතයේ වැදගත්කම' යන මැයෙන් කිතුනු සඟරාවකට වචන **100** ක පමණ ලිපියක් ලියන්න. *(ලකුණු 10 යි)*

**8.** (i) කිතුනු යාච්ඤාවේ පොදු ආකල්පයක් වන 'මැදහත් යෙදුම තුළින්' අපට සිදුවන යහපත් ක්‍රියාවන් පහක් කෙටියෙන් ලියන්න. *(ලකුණු 05 යි)*

(ii) "එදිනෙදා ජීවිතයේ දරන්නට වන දුක් වේදනා දේව ආශිර්වාදයකි." යන ශීර්ෂය යටතේ වචන **100** ක පමණ රචනයක් ලියන්න. *(ලකුණු 10 යි)*

**9.** පහත සඳහන් මාතෘකා අතුරින් තුනක් තෝරාගෙන කෙටි සටහන් ලියන්න.

(i) ස්වාමිවාක් ආරාධනාව මුළු සුවිශේෂයේ සාරාංශයයි

(ii) යාච්ඤා කිරීමේ දී ඇතිවන දුෂ්කරතා

(iiii) භාවනාත්මක යැදුමේ ඇති වැදගත්කම

(iv) ශු. පැය අධ්‍යාත්මික භාවනාවකි

(v) ජපමාලය ලෝකයේ රැකවරණයයි

*(ලකුණු 05 × 3 = 15 යි)*

***